08933



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

**2560 - දහම් පාසල් අවසාන සහතික පත්‍ර විභාගය - 2016 (2017)** **S 1**

**(01) බුද්ධ චරිතය**

පැ. තුනයි

මෙම ප්‍රශ්න පත්‍රය කොටස් තුනකින් සමන්විත වේ. යටත් පිරිසෙයින් එක් කොටසකින් එක් ප්‍රශ්නයක්වත් ඇතුළත් වන සේ තෝරාගෙන ප්‍රශ්න පහකට පමණක් පිළිතුරු සපයන්න.

## I කොටස

**1.** (i) 'වේදගු' නමින් හැඳින්වෙන බ්‍රාහ්මණයා වේදයෙහි විශාරද බව ලබන චතුර්වේදය නම් කරන්න. (ලකුණු 04 යි)

(ii) වේදය ගුරුකොටගෙන සැකසුණු භාරතීය සමාජ ක්‍රමයෙහි ප්‍රධාන කුල හතර හැරුණු විට 'පඤ්චම' නමින් හැඳින්වෙන ඉතා පහත් කුල පහක් ගැන සඳහන් වේ. එයින් හතරක් ලියා දක්වන්න. (ලකුණු 04 යි)

(iii) බ්‍රාහ්මණ ඉගැන්වීමට අනුව සමාජයේ සිව්වැනි ස්ථානයෙහිලා සැලකෙන ශුද්‍ර වර්ණයට හිමි ස්වධර්ම පෙන්වා දෙන්න. (ලකුණු 06 යි)

(iv) බ්‍රාහ්මණ ඉගැන්වීම්වලට අනුව සැකසුණු බුද්ධකාලීන භාරත සමාජ විෂමතා කෙරෙහි බල පෑ වර්ණධර්ම බුදුරදුන්ගේ විචාරයට ලක් වූ අයුරු විමසන්න. (ලකුණු 06 යි)

**2.** (i) බුද්ධකාලීන භාරතයේ පැවති රාජාණ්ඩු හතරක් හා ඒවා පාලනය කළ රජවරුන් හතරදෙනෙකු නම් කරන්න. (ලකුණු 04 යි)

(ii) 'පාලකයා සතර අගතියෙන් තොරව පාලන කටයුතු සිදු කළ යුතු ය' යන්න රාජාණ්ඩු පාලන බෞද්ධ මූලධර්මයකි. මෙහි සඳහන් සතර අගතිය ලියා දක්වන්න. (ලකුණු 04 යි)

(iii) එකල ලිච්ඡවීන් පාලනය කළ වේශාලියෙහි පැවති රාජ්‍ය පාලන ව්‍යවස්ථා මාලාවක් වූ සප්ත අපරිහානීය ධර්ම රාජ්‍යපාලන මූලධර්මයක් ලෙස සැලකිය හැකි ආකාරය කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 06 යි)

(iv) දැහැමි රාජ්‍යයක් උදෙසා රාජ්‍ය පාලකයාගේ වගකීම කවරේදැයි බෞද්ධ දේශපාලන මූලධර්ම ඇසුරින් සාකච්ඡා කරන්න. (ලකුණු 06 යි)

**3.** (i) බුද්ධකාලීන භාරතයේ පැවති ආර්ථික නිෂ්පාදන හතරක් නම් කරන්න. (ලකුණු 04 යි)

(ii) බුදුරදුන් ජීවමාන සමයෙහි පැවති බොහෝ ශිල්ප කර්මාන්ත සඳහා වෙන් වූ ශිල්ප ශ්‍රේණි දහඅටක් වූ බව සඳහන් වේ. එයින් හතරක් ලියා දක්වන්න. (ලකුණු 04 යි)

(iii) පුරාතන භාරතයේ ආර්ථික ක්‍රමයේ පදනම වූයේ සාම්ප්‍රදායික කෘෂිකාර්මික ක්‍රියාවලියයි. මේ බව බෞද්ධ සාහිත්‍යයේ තොරතුරු ඇසුරින් කෙටියෙන් විමසන්න. (ලකුණු 06 යි)

(iv) වර්තමාන ශ්‍රී ලංකාව තුළ ආර්ථික සමෘද්ධිය ඇති කිරීමෙහි ලා ඉපැරණි භාරතීය ආර්ථික ක්‍රමෝපායයන්ගෙන් ගතහැකි ආදර්ශ පෙන්වා දෙන්න. (ලකුණු 06 යි)

## II කොටස

**4.** (i) සිදුහත් කුමරුගේ නම් තැබීමේ උත්සවයට සහභාගි වූ උගත් පඬිවරුන් අතුරින් හතරදෙනෙකු නම් කරන්න. (ලකුණු 04 යි)

(ii) සුදොවුන් රජු සිදුහත් කුමරුට නමස්කාර කළ අවස්ථා දෙකක් පිළිබඳ කෙටි සටහනක් ලියන්න. (ලකුණු 04 යි)

(iii) 'සතර පෙරනිමිති දැකීම තුළින් නිරූපණය වන්නේ බෝසතුන්ගේ සිතෙහි චතුරාර්ය සත්‍යය පිළිබඳ මූලික සංකල්පය ජනිත කළ අවස්ථාවයි.' එය කෙටියෙන් පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

(iv) ජීවිතයේ යථාර්ථය සොයමින් ගුරුවරුන් සොයා ගිය "බෝසතාණන් වහන්සේ ආලාරකාලාම - උද්දකරාම පුත්ත තාපසවරුන් වෙතින් ද යථාර්ථය හමුනොවේ යැයි සලකා ඔවුන් ද අතහැර කිං කුසලගවේසීව තනිවම නිවන් සෙවීමෙහි නිරත වූහ" මෙයින් ලෝකයා වෙත සපයන ආදර්ශය පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

[ දෙවන පිටුව බලන්න.

**5.** (i) බෝසත් චරිතය තුළින් පැවසෙන බුදුවීමට පෙර පළවා හැරි 'දසමරසෙන්' අතුරින් හතරක් නම් කරන්න. *(ලකුණු 04 යි)*

(ii) "බෝසතාණන් වහන්සේ සම්බුද්ධත්වය සාක්ෂාත් කිරීමේ දී ත්‍රිවිද්‍යා අතුරින් 'සිත ආශ්‍රවයන්ගෙන් මිදීමේ නුවණ (ආසවක්ඛය ඤාණ)' නම් වූ තෙවැනි විද්‍යාව පහළ කළහ." මීට අදාළ සතරාකාර ආශ්‍රවයන් ලියා දක්වන්න. *(ලකුණු 04 යි)*

(iii) මහත් පරිශ්‍රමයකින් නිර්වාණය සාක්ෂාත් කොටගත් බුදුරජාණන් වහන්සේගේ පළමු උදානය ලියා කෙටි සටහනක් සපයන්න. *(ලකුණු 06 යි)*

(iv) බුද්ධත්වය සාක්ෂාත් කොටගත් බුදුරජාණන් වහන්සේ බෝධීන් වහන්සේට නුදුරුතැන්හි සත්සතිය ගත කළ ආකාරය දක්වා ඉන් ලෝකයට සපයන ආදර්ශය පෙන්වා දෙන්න. *(ලකුණු 06 යි)*

**6.** (i) බුදුරදුන්ගේ පළමු ධර්ම දේශනය කිනම් නගරයක කොතැන්හි දී කවුරුන් අරභයා කිනම් සූත්‍රයක් ලෙස දේශනා කරන ලද්දේදැයි ලියන්න. *(ලකුණු 04 යි)*

(ii) එම සූත්‍ර දේශනාවෙහි ඇතුළත් නිර්වාණය පිණිස හේතුවන චතුරාර්ය සත්‍යය නම් කරන්න. *(ලකුණු 04 යි)*

(iii) චතුරාර්ය සත්‍යධර්මයෙහි පළමු ආර්ය සත්‍යය කෙටියෙන් සඳහන් කරන්න. *(ලකුණු 06 යි)*

(iv) අනේකවිධ දුක්කරදරවලින් පීඩාවට පත් වර්තමාන ගිහි ජනතාවගේ දුක්ඛනිරෝධය සඳහා මධ්‍යමප්‍රතිපදාව අනුගමනය කළ හැකි ආකාරය පෙන්වා දෙන්න. *(ලකුණු 06 යි)*

## III කොටස

**7.** (i) බුද්ධශාසනයේ කාන්තා පැවිද්ද කිනම් නගරයක කොතැන්හි දී කවුරුන් අරභයා කිනම් ධර්මයක් පැනවීමෙන් ආරම්භ කරන ලද්දේදැයි දක්වන්න. *(ලකුණු 04 යි)*

(ii) භික්ෂුණීන් වහන්සේගේ පැවිදි - උපසම්පදාව පිහිටන අෂ්ටගරුධර්ම අතුරින් හතරක් ලියා දක්වන්න. *(ලකුණු 04 යි)*

(iii) බුද්ධකාලීන භාරතීය සමාජයේ කාන්තා විමුක්තිය උදෙසා මහා ප්‍රජාපතීගෝතමී තෙරණියගේ කැපවීම හා ධෛර්ය කෙටියෙන් පහදන්න. *(ලකුණු 06 යි)*

(iv) වර්තමාන ශ්‍රී ලංකාවේ ගෘහ ජීවිතයේ ගැටලු නිරාකරණයෙහි ලා මෙහෙණින් වහන්සේගේ හෝ දසසිල් මාතාවන්ගේ හෝ සමාජ කාර්යභාරය පෙන්වා දෙන්න. *(ලකුණු 06 යි)*

**8.** (i) බුදුරදුන්ගෙන් පිහිට ලැබූවන් සිව්දෙනෙකු නම් කරන්න. *(ලකුණු 04 යි)*

(ii) 'තථාගත ජීවිතයේ අවසාන සමයේ දී බුදුරදහු ආනන්ද තෙරුන් අමතා සතර ඉද්ධිපාද වැඩූ තැනැත්තෙකුට අවශ්‍ය නම්, ආයුෂ්කල්පයක් හෝ ඊට වැඩි කාලයක් හෝ ජීවත් විය හැකි යැයි දෙසූහ' මෙහි සඳහන් සතර ඉද්ධිපාද ලියා දක්වන්න. *(ලකුණු 04 යි)*

(iii) බුදුරජාණන් වහන්සේ ශ්‍රේෂ්ඨ නායකයකු ලෙස ශ්‍රාවක සමාජය වෙත සැපයූ ශ්‍රේෂ්ඨ මාර්ගෝපදේශකත්වය කෙටියෙන් සඳහන් කරන්න. *(ලකුණු 06 යි)*

(iv) බුදුරජාණන් වහන්සේ තුළ පැවති අන්‍යමතවාද ඉවසීමේ ගුණය, අන්‍ය ජාතික හා ආගමික මතවාද නොඉවසන නූතන සමාජය වෙත සපයන ආදර්ශය පෙන්වා දෙන්න. *(ලකුණු 06 යි)*

**9.** (i) බුදුරදුන්ගෙන් අග්‍රස්ථාන ලැබූ සිව්වනක් පිරිසට අයත් සිව්දෙනෙකු හා ඔවුන් ලැබූ අගතනතුරු ලියා දක්වන්න. *(ලකුණු 04 යි)*

(ii) ශුද්ධෝදන රජපවුලට ඥාතිත්වය ඇතිව සිට බුදුසසුනේ පැවිදි - උපසම්පදාව ලැබූ භික්ෂු - භික්ෂුණී උභය සංඝයාට අයත් සිව්දෙනෙකු නම් කරන්න. *(ලකුණු 04 යි)*

(iii) බුදුරදුන්ගේ පවා විශේෂ අවධානයට යොමු වූ වර්තමානයෙහි පවා බෞද්ධ නිවසෙහි පුද පූජාවන්ට ලක්ව ඇති සීවලී මහරහතන් වහන්සේගේ චරිතය කෙටියෙන් සඳහන් කරන්න. *(ලකුණු 06 යි)*

(iv) අභිඥාලාභී භික්ෂුණීන් වහන්සේ අතර අගතනතුරු ලැබූ භද්දකච්චානා තෙරණියගේ ගිහිකල ජීවන පැවැත්ම වර්තමාන විවාහක කාන්තා පරපුර වෙත සපයන ආදර්ශය පැහැදිලි කරන්න. *(ලකුණු 06 යි)*

**10.** (i) බුදුසසුනෙහි ප්‍රථම ද්වේවාචික උපාසකවරුන් දෙපළ හා තෙරුවන් සරණගිය ප්‍රථම උපාසිකාවන් දෙපළ නම් කරන්න. *(ලකුණු 04 යි)*

(ii) බුදුසසුනෙහි සැදැහැයෙන් ක්‍රියාකළ බුද්ධකාලීන කාන්තාවන් සිව්දෙනෙකුගේ නම් ලියා දක්වන්න. *(ලකුණු 04 යි)*

(iii) බුදුසසුනෙහි සැදැහැයෙන් හා බුද්ධියෙන් ක්‍රියා කළ උදේන රජුගේ බිසව වූ සාමාවතියගේ චරිතය කෙටියෙන් සඳහන් කරන්න. *(ලකුණු 06 යි)*

(iv) වර්තමාන ශ්‍රී ලංකාව තුළ බුද්ධශාසනයේ ආරක්ෂාව හා පෝෂණය උදෙසා දායක - දායිකාවන් විසින් ගතයුතු ක්‍රියාමාර්ග පිළිබඳ ඔබගේ අදහස් ඉදිරිපත් කරන්න. *(ලකුණු 06 යි)*

***